8668



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2558 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2014 (2015)**

**S 1**

**(01) බුද්ධ චරිතය**

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් **එක්** ප්‍රශ්නයක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

**I කොටස**

**1.** (අ) බුද්ධකාලීන භාරතීය සමාජයේ බ්‍රාහ්මණ මතයට අනුව ක්‍රියාත්මක වූ ප්‍රධාන කුල හතර නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ආ) ක්ෂත්‍රිය වර්ණයට හිමි "ස්වධර්ම" නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ඉ) බුද්ධකාලීන භාරතීය සමාජයේ බ්‍රාහ්මණ මතයට අනුව කාන්තාවට හිමි වූ තත්ත්වය කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ඊ) බුදුසමය තුළ කාන්තාවගේ අයිතිවාසිකම් හා වරප්‍රසාද තහවුරු වූ අයුරු පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

**2.** (අ) බුද්ධකාලීන භාරතයේ ආර්ථික ක්‍රියාවලියට අදාළ ජීවිකා වෘත්ති **හතරක්** නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ආ) පුරාතන භාරතයේ ආර්ථික ක්‍රම කෘෂිකර්මාන්තය මත පදනම්ව පැවති බවට සාධක කෙටියෙන් පෙන්වා දෙන්න. *(ලකුණු 04 යි)*

(ඉ) 'බුද්ධකාලීන භාරතයේ දියුණු වෙළෙඳ නගර පැවතීම තුළින් උසස් වෙළෙඳ ආර්ථික රටාවක තත්ත්වය පෙන්නුම් කරයි.' විමසන්න. *(ලකුණු 06 යි)*

(ඊ) බුද්ධකාලීන භාරතයේ පැවති ආර්ථික ක්‍රමෝපායයන් අතරින් රටක සංවර්ධනය උදෙසා නූතනයේ අනුගමනය කළ හැකි ආර්ථික ප්‍රතිපත්ති කවරේදැයි දක්වන්න. *(ලකුණු 06 යි)*

**3.** (අ) බුද්ධකාලීන භාරතයේ බ්‍රාහ්මණ පූජකයන් විසින් සිදු කරනු ලැබූ යාග ක්‍රම **හතරක්** නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ආ) බුද්ධකාලීන භාරතයේ ශ්‍රමණ පූජකයන් අතින් විවේචනයට ලක් වූ බ්‍රාහ්මණ සම්ප්‍රදායට අයත් ඉගැන්වීම් **හතරක්** කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 04 යි)*

(ඉ) නිගණ්ඨනාතපුත්ත ශාස්තෘතුමාගේ චතුයාම සංවර ශීලය කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(ඊ) බුදුසමයේ කර්මය පිළිබඳ ඉගැන්වීම පූරණකස්සප ශාස්තෘතුමාගේ අකිරියවාදයෙන් වෙනස්වන අයුරු පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

**II කොටස**

**4.** (අ) රෝහිණී නදිය දෙපස පැවති ජනපද දෙක හා ඒවායෙහි අගනුවර දෙක නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ආ) සිදුහත් කුමරුගේ නම් තැබීමේ උත්සවයට සහභාගි වූ ප්‍රකට පඬිවරුන් හතර දෙනෙකුගේ නම් ලියන්න. *(ලකුණු 04 යි)*

(ඉ) ශාක්‍යවංශයේ සම්භවය කෙටියෙන් ඉදිරිපත් කරන්න. *(ලකුණු 06 යි)*

(ඊ) ශාක්‍යයන්ගේ මානය බිඳහෙළීම සඳහා බුදුරදුන් අනුගමනය කළ ක්‍රියාමාර්ගය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

[ දෙවන පිටුව බලන්න.

5. (අ) බුදුරදුන්ගේ ප්‍රථම උදානය ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(ආ) බුදුරදුන් ගතකළ සත්සතිය පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 04 යි)

(ඉ) දෙවැනි සතිය බුදුරදුන් ගත කළ ආකාරය හා එයින් ප්‍රකටවන ගුණය දක්වා එය අපට ආදර්ශ වන ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

(ඊ) බුදුරදුන් ලොවට හෙළිකළ ශ්‍රේෂ්ඨ ධර්මයේ විශේෂතාව ගෙනහැර දක්වන්න. (ලකුණු 06 යි)

6. (අ) බුද්ධ ශාසනයේ තෙරුවන් සරණගිය ප්‍රථම උපාසක හා ප්‍රථම උපාසිකාවන් දෙදෙනා නම් කරන්න. (ලකුණු 04 යි)

(ආ) භද්දවග්ගිය කුමාරවරුන්ට බුදුරදුන් දේශනා කළ ධර්මය කෙටියෙන් දක්වන්න. (ලකුණු 04 යි)

(ඉ) කෝලිත හා උපතිස්ස දෙදෙනා බුදුරදුන් සොයා පැමිණි ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ඊ) පළමු ධර්ම ප්‍රචාරය බුදුසසුනේ ශීඝ්‍ර ව්‍යාප්තිය කෙරෙහි බලපෑ අයුරු විස්තර කරන්න. (ලකුණු 06 යි)

## III කොටස

7. (අ) බුදුරදුන්ගේ දෙවැනි ලංකාගමනයට හේතු හා එහි ප්‍රතිඵල කෙටියෙන් දක්වන්න. (ලකුණු 04 යි)

(ආ) තෙවැනි ලංකාගමනයේ දී බුදුරදුන් වැඩසිටි ස්ථාන **හතරක්** නම් කරන්න. (ලකුණු 04 යි)

(ඉ) බුද්ධත්වයෙන් සිව්වැනි වස හා දොළොස්වැනි වස අතරතුර සමාජයේ යුද ගැටුම් හා ශාසනයේ කළහ විවාද සංසිඳවීමට බුදුරදුන් පියවරගත් අවස්ථා **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

(ඊ) යුද ගැටුම්වලින් තොර ලොවක් උදෙසා බුදුසමයේ පණිවුඩය ඉවහල් කරගත හැකි ආකාරය සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

8. (අ) බුදුරදුන් වස් විසූ ස්ථාන **හතරක්** නම් කරන්න. (ලකුණු 04 යි)

(ආ) බුදුරදුන්ගේ දින චරියාවේ ප්‍රධාන කොටස් **පහ** නම් කරන්න. (ලකුණු 04 යි)

(ඉ) බුදුරදුන් පෙරවරු කාලය ගත කළ අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ඊ) කාල කළමනාකරණය තුළින් දින චර්යාව සකස් කර ගැනීම පුද්ගල සාර්ථකත්වයට ඉවහල් වන අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

9. (අ) බුදුසසුනේ සිවුවණක් පිරිස නම් කරන්න. (ලකුණු 04 යි)

(ආ) මහාකාශ්‍යප තෙරණුවෝ, මහාකච්චායන තෙරණුවෝ හා මහාප්‍රජාපතී ගෝතමී තෙරණිය, භද්දකච්චානා තෙරණිය යන ශ්‍රාවක - ශ්‍රාවිකාවන් ලැබූ අගතනතුරු පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)

(ඉ) මහාකාශ්‍යප තෙරණුවන්ගේ හා මහා ප්‍රජාපතී ගෝතමී තෙරණියගේ ශාසනික සේවාව අගය කරන්න. (ලකුණු 06 යි)

(ඊ) ‘වැලිකැට ගණනට මට අවවාද ලැබේවා’ යි ප්‍රර්ථනා කළ රාහුල තෙරුන්ගේ චරිතයෙන් හා සුනාපරන්ත පුණ්ණ තෙරුන්ගේ චරිතයෙන් අපට ගතහැකි ආදර්ශ සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

10. (අ) බුදුසසුනේ තනතුරුලත් උපාසක - උපාසිකාවන් **සිවුදෙනෙකු** නම් කරන්න. (ලකුණු 04 යි)

(ආ) මගධාධිපති බිම්බිසාර රජතුමා සිය ජීවිතයේ දී පසක් කරගත් ප්‍රාර්ථනා පහ නම් කරන්න. (ලකුණු 04 යි)

(ඉ) බුදුරදුන් කෙරෙහි පැහැදීමෙන් කටයුතු කළ පසේනදී කෝසල රජුගේ හා කෝසල මල්ලිකාවගේ ශාසනික සේවාව අගයන්න. (ලකුණු 06 යි)

(ඊ) බුදුසසුනේ උන්නතිය උදෙසා නූතන රාජ්‍ය පාලකයින් විසින් ගතයුතු ක්‍රියාමාර්ග කවරේදැයි පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

***